இலங்கைப் பரீட்சைத் திணைக்களம்

අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2022 (2023)
க.பொ.த. (சா.தர)ப் பரீட்சை - 2022 (2023)

විෂය අංකය / பாட இலக்கம்: **62**

විෂයය / பாடம்: **පුරවැසි අධ්‍යාපනය**

## I පත්‍රය - පිළිතුරු
## I பத்திரம் - விடைகள்

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරෙහි අංකය விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 02 | 11. | 04 | 21. | 01 | 31. | 04 |
| 02. | 01 | 12. | 03 | 22. | 03 | 32. | 01 |
| 03. | 04 | 13. | 04 | 23. | 04 | 33. | 03 |
| 04. | 03 | 14. | 02 | 24. | 02 | 34. | 01 /0 |
| 05. | 04 | 15. | 03 | 25. | 04 | 35. | 01 |
| 06. | 02 | 16. | 02 | 26. | 02 | 36. | 03 |
| 07. | 04 | 17. | 02 | 27. | 04 | 37. | 01 |
| 08. | 01 | 18. | 03 | 28. | 02 | 38. | 03 |
| 09. | 02 | 19. | 02 | 29. | 03 | 39. | 02 |
| 10. | 03 | 20. | 01 | 30. | 01 | 40. | 04 |

විශේෂ උපදෙස් / விசேட அறிவுறுத்தல் } එක් පිළිතුරකට ලකුණු / ஒரு சரியான விடைக்கு **01** බැගින් / புள்ளி வீதம்

මුළු ලකුණු / மொத்தப் புள்ளிகள் 01 × 40 = 40

පහත නිදසුනෙහි දැක්වෙන පරිදි බහුවරණ උත්තරපත්‍රයේ අවසාන තීරුවේ ලකුණු ඇතුළත් කරන්න.
கீழ் குறிப்பிடப்பட்டிருக்கும் உதாரணத்திற்கு அமைய பல்தேர்வு வினாக்களுக்குரிய புள்ளிகளை பல்தேர்வு வினாப்பத்திரத்தின் இறுதியில் பதிக.

නිවැරදි පිළිතුරු සංඛ්‍යාව / சரியான விடைகளின் தொகை: 25 / 40

I පත්‍රයේ මුළු ලකුණු / பத்திரம் I இன் மொத்தப்புள்ளி: 25 / 40

1. (i) නිදහස් හා සාධාරණ මැතිවරණයක ලක්ෂණ **දෙකක්** ලියන්න.
(ii) මධ්‍යම ආණ්ඩුවට හා පළාත් සභා යන ආයතන දෙවර්ගයට ම සමසේ භුක්ති විඳිය හැකි බලතල වර්ග **දෙකක්** ලියන්න.
(iii) බහු සංස්කෘතික සමාජයක පුරවැසියකු වර්ධනය කර ගත යුතු ගුණාංග **දෙකක්** සඳහන් කරන්න.
(iv) වෙළඳාමෙහි දැකිය හැකි ප්‍රධාන කොටස් **දෙක** මොනවා ද?
(v) ගැටුම් ඇතිවන පාර්ශ්ව **දෙකක්** සඳහන් කරන්න.
(vi) ශ්‍රී ලංකාවේ වර්තමාන අධිකරණ පද්ධතියේ ඉහළ ම අධිකරණ ආයතනය හා පහළ ම අධිකරණ ආයතනය දක්වන්න.
(vii) 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ජනාධිපතිවරයා සතු ව්‍යවස්ථාදායක බලතල **දෙකක්** ලියන්න.
(viii) මූලික අයිතිවාසිකම් කඩවීම සම්බන්ධයෙන් පුරවැසියන්ට ගත හැකි ක්‍රියාමාර්ග **දෙකක්** දක්වන්න.
(ix) දේශගුණික වෙනස්වීම නිසා ඇතිවන අහිතකර ප්‍රතිඵල **දෙකක්** ලියන්න.
(x) ජාත්‍යන්තර සබඳතා පවත්වා ගැනීමෙන් රටකට ඇතිවන හිතකර ප්‍රතිඵල **දෙකක්** සඳහන් කරන්න.
(ලකුණු 02 ×

**01 වන ප්‍රශ්නයේ අපේක්ෂිත ඉගෙනුම් ඵල**

- නිදහස් හා සාධාරණ මැතිවරණයක ලක්ෂණ විස්තර කරයි.
- ආර්ථික ක්‍රමයක පවතින වෙළඳාම් වර්ග නම් කරයි.
- විවිධ ගැටුම් ඇති වන පාර්ශ්ව විස්තර කරයි.
- වර්තමාන අධිකරණ පද්ධතියේ පවතින ආයතන පැහැදිලි කරයි.
- බහු සංස්කෘතික සමාජයක පුරවැසි යුතුකම් අර්ථ දක්වයි.
- මානව අයිතිවාසිකම් කඩවීමේදී ගත හැකි ක්‍රියාමාර්ග විස්තර කරයි.
- බලය විමධ්‍යගත කිරීමේදී බලතල බෙදී යන ආකාරය විමර්ශනය කරයි
- ජාත්‍යන්තර සබඳතා පැවැත්වීමේ වාසි විග්‍රහ කරයි.
- දේශගුණික වෙනස්කම් ලිළිබඳව විශ්ලේෂණය කරයි.
- ජනාධිපතිවරයා සතු බලතල පැහැදිලි කරයි.

(1)

- නියමිත කාල සීමාව තුළ මැතිවරණ පැවැත්වීම
- නියමිත සුදුසුකම් සපුරා ඇති පුරවැසියන්ට ඡන්ද දායකත්වය ලැබීමේ අයිතිය තහවුරු වී තිබීම
- නියමිත සුදුසුකම් සපුරා ඇති පුරවැසියන්ට ඡන්ද අපේක්ෂකත්වය ලැබීමේ අයිතිය තහවුරු වී තිබීම
- නිදහසේ මැතිවරණ කටයුතුවලට සහභාගිවීමට ඇති අයිතිය තහවුරු වී තිබීම
- මැතිවරණ නීතිරීතිවලට අනුව මැතිවරණ පැවැත්වීම
- සාමකාමී වාතාවරණයක් තුළ මැතිවරණ පැවැත්වීම
- කිසිදු බලපෑමකින් තොරව දේශපාලන මතය ප්‍රකාශ කිරීමට ඉඩ සැලසීම
- වංචා හා දූෂණවලින් තොරව මැතිවරණ පැවැත්වීම
- සියලු දේශපාලන පක්ෂවලට සමාන ප්‍රචාරණයක් ලබා දීම

***(ඉහත සඳහන් කරුණු හෝ සමාන වෙනත් කරුණු දෙකක් සඳහා ලකුණු දෙන්න.)***

(ii)

- සැලසුම් කිරීම
- ජාතික නිවාස සහ ඉදිකිරීම්
- සමාජ සේවා සහ පුනරුත්ථාපන
- කෘෂිකර්මය සහ ගොවිජන සේවා

මෙම (සමගාමී ලැයිස්තුව යටතේ ඇති බලතල ක්ෂේත්‍ර 36 න් දෙකක් ඊට අදාළව ඕනෑම නිදසු...
දෙකක් හෝ දක්වා තිබේ නම් ලකුණු ලබා දෙන්න...

(iii)

- එකිනෙකාගේ සංස්කෘතීන් හඳුනා ගැනීම
- අවබෝධයෙන් කටයුතු කිරීම
- එකිනෙකාට ගරු කිරීම
- අන්‍ය ආගම්වලට අවමන් නොකිරීම
- අන්‍ය සංස්කෘතීන්ට ගරු කිරීම
- ගැටුම් ඇති නොවන සේ කටයුතු කිරීම
- සාමූහිකත්වය වර්ධනය කිරීම
- එක්සත්ව කටයුතු කිරීමෙන් ජයගත හැකි බව අවබෝධ කර ගැනීම
- අනෙකුත් ජන වර්ගවල භාෂාවන් ඉගෙන ගැනීම හා භාවිතය
- සර්ව ආගමික වැඩසටහන් ක්‍රියාත්මක කිරීම
- අන්‍ය මත ඉවසීම හා ඒවාට ගරු කිරීම
- සමානාත්මතාවය

(ඉහත සඳහන් කරුණුවලින් ඕනෑම කරුණු දෙකක් සඳහා ලකුණු දෙන්න...

(iv)

- තොග වෙළදාම
- සිල්ලර වෙළදාම

(මෙම කරුණු දෙක සඳහා ලකුණු එක බැගින් දෙන්න...

(v)

- පුද්ගලයා තුළ
- පුද්ගලයින් අතර
- ජන කණ්ඩායම් අතර
- රටවල් අතර

(මෙම එක් කරුණක් සඳහා එක ලකුණක් බැගින් දෙන්න. )

(vi)

- ශ්‍රේෂ්ඨාධිකරණය
- මහේස්ත්‍රාත් අධිකරණය

**(මෙම එක් කරුණක් සඳහා එක ලකුණක් බැගින් දෙන්න. )**

(vii)

- පාර්ලිමේන්තුව කැඳවීම
- වාර අවසාන කිරීම
- විසුරුවා හැරීම
- පාර්ලිමේන්තුව ආරම්භයේ ප්‍රතිපත්ති ප්‍රකාශනය ඉදිරිපත් කිරීම / කියවීම
- විශේෂ පනත් කෙටුම්පත් ජනමත විචාරණයට යොමු කිරීම
- ජනමත විචාරණයකින් සම්මත වූ පනතක් වීම සඳහා අනුමැතිය ලබා දීම.
- විශේෂ අවස්ථාවල පාර්ලිමේන්තුව ඇමතීම
- සංදේශ යැවීම

**(ඉහත සඳහන් කරුණුවලින් ඕනෑම කරුණු දෙකක් සඳහා ලකුණු දෙන්න.)**

(viii)

- ශ්‍රේෂ්ඨාධිකරණයට ඉල්ලීමක් කිරීම
- මානව හිමිකම් කොමිසමට පැමිණිලි කිරීම
- පරිපාලන කටයුතු පිළිබඳ පාර්ලිමේන්තු කොමසාරිස් (ඔම්බුඩ්ස්මන්වරයා) වෙත පැමිණිලි කිරීම

**(මෙම පිළිතුරු අතුරින් දෙකක් සඳහා ලකුණු දෙකක් ලබා දෙන්න)**

(xi)

- ගෝලීය උෂ්ණත්වය ඉහළ යාම
- වර්ෂා ක්‍රියාවලිය වෙනස් වීම
- ආන්තික සිදුවීම (අකුණු, කුණාටු වැනි)
- එල්නිනෝ බලපෑම
- මෝසම් ක්‍රියාවලියට බලපෑම
- හිම හා අයිස් වැස්ම දිය වී යාම
- සාගර ජල මට්ටම ඉහළ යාම
- කෘෂි අස්වනු අඩු වීම
- රෝග ව්‍යාප්තිය වැඩි වීම

(101 පිටුව)

**(මෙවැනි පිළිතුරු අතුරින් දෙකක් නම් කර ඇත්නම් ලකුණු ලබා දෙන්න.**

**මීට සමාන වෙනත් පිළිතුරු දී ඇත්නම් ඒ පිළිබඳව ද සලකා බලන්න.**

(x)

- ජාත්‍යන්තර සුහදතාව වර්ධනය වීම
- නව රැකියා අවස්ථා උදාවීම
- හදිසි අවස්ථාවලදී අන්‍යෝන්‍ය ආධාර උපකාර ලැබීම
- නව තාක්ෂණික දැනුම හුවමාරු කර ගත හැකි වීම
- සංවර්ධන කටයුතු සඳහා අවශ්‍ය සහයෝගය ලැබීම
- තම රාජ්‍යයට තනිව සපුරා ගත නොහැකි දේ සපුරා ගැනීමට හැකිවීම
- දේශපාලන, ආර්ථික, සංස්කෘතික, සමාජීය ක්ෂේත්‍ර ඔස්සේ සබඳතා පුළුල් කරගත හැකි වීම
- ප්‍රබල රාජ්‍යවලින් ඇති කරන බලපෑම්වලින් ආරක්ෂා වීම
- ආරක්ෂණවාදී ප්‍රතිපත්තිවලින් ඇතිවන බාධා මඟහරවා ගැනීමට උපකාරී වීම

***(ඉහත පිළිතුරු අතුරින් දෙකක් නම් කර ඇත්නම් ලකුණු ලබා දෙන්න.
මීට සමාන වෙනත් පිළිතුරු දී ඇත්නම් ඒ පිළිබඳව ද සලකා බලන්න.)***

2. පෘථිවි ගෝලයේ ඉදිරිපැවැත්ම සඳහා නවීකරණයන් හඳුන්වාදීම මෙන් ම පරිසරය ආරක්ෂා කිරීම ද පුරවැසියන්ගේ යුතුකම හා වගකීම වේ.
   (i) ශිලා ගෝලයට සිදුව ඇති හානි නිසා ඇතිවන අහිතකර බලපෑම් **දෙකක්** දක්වන්න.
   (ii) පරිසරයේ හා මිනිසාගේ යහපැවැත්ම සඳහා පරිසරයෙන් ලැබෙන සේවාවන් **තුන** සඳහන් කරන්න.
   (iii) (a) වනාන්තර හායනය වළක්වා ගැනීමට පුරවැසියකු ලෙස ඔබට ගත හැකි ක්‍රියාමාර්ග **දෙකක්** ලියන්න.
   (b) ඉන් එක් ක්‍රියාමාර්ගයක් ක්‍රියාත්මක කරන ආකාරය විස්තර කරන්න.

*2 වන ප්‍රශ්නයේ අපේක්ෂිත ඉගෙනුම් ඵල*

- *පෘථිවියේ සිදු වන හානි නිසා ඇතිවන අහිතකර තත්ත්වයන් විමර්ශනය කරයි.*
- *මිනිසාගේ යහපැවැත්ම සඳහා පරිසරයෙන් ලැබෙන සේවාවන් විශ්ලේෂණය කරයි.*
- *වනහායනය සම්බන්ධව විස්තර කරයි.*
- *වන හායනය වළක්වා ගැනීමට ගත හැකි ක්‍රම පෙන්වා දෙයි.*

(i)
(ii) පරිසර සෞන්දර්ය විනාශ වී යාම
(iii) භූමි හායනය
(iv) ආන්තික බිම් නිර්මාණය වීම
(v) ජල ගැලීම් ඇති වීම
(vi) පස නිසරු වීම
(vii) වන වැස්ම විනාශ වීම
(viii) ලෙඩ රෝග, වසංගත ව්‍යාප්ත වීම
(ix) ජල මූලාශ්‍ර විනාශ වීම
(x) භූගත ජල මට්ටම අඩු වීම

**(මෙවැනි පිළිතුරු අතුරින් දෙකක් නම් කර ඇත්නම් ලකුණු ලබා දෙන්න).**

(ii)
- ජීව උපකාරක සේවා
- ආර්ථික උපකාරක සේවා
- අපද්‍රව්‍ය අවශෝෂණ සේවා

**( එක් කරුණක් සඳහා එක් ලකුණක් බැගින් ලබා දෙන්න)**

(iii)
(a)
- වනාන්තර විනාශය වැළැක්වීම
- පැල රෝපණය කිරීම
- පුරවැසියන් දැනුවත් කිරීම
- ගස් කපන්නන් පිළිබඳ අදාළ අංශ දැනුවත් කිරීම
- දුව වෙනුවට පරිහරණය කළ හැකි විකල්ප ක්‍රම සොයා බැලීම

**(මෙවැනි පිළිතුරු සඳහා එක් කරුණකට එක් ලකුණක් බැගින් ලකුණු දෙකක් ලබා දෙන්න.මෙවැනි අදහසක් හැඟවෙන ආකාරයට ලියා ඇති පිළිතුරු කෙරෙහි ද අවධානය යොමු කරන්න)**

(b)
ඉහතින් සඳහන් කරන ලද කරුණුවලින් එක් කරුණක් තෝරා ගෙන එය ඉටු කළ යුතු ආකාරය පැහැදිලි කර තිබීම අවශ්‍යය.

3. පුද්ගල මනස සංසුන්ව හා නිරවුල්ව තබාගැනීම ගැටුම් ඇති නොවීමට හේතු වේ.
   (i) පුද්ගල කණ්ඩායම් අතර ඇති විය හැකි ගැටුම්වලට උදාහරණ **දෙකක්** දක්වන්න.
   (ii) මනසේ සාමය ඇති කර ගැනීම සඳහා අනුගමනය කළ හැකි අංශ **තුනක්** සඳහන් කරන්න.
   (iii) (*a*) ගැටුම් නිරාකරණය කර ගැනීමට යොදාගන්නා ක්‍රම **දෙකක්** සඳහන් කරන්න.
   (*b*) ඉන් **එක්** ක්‍රමයක් කෙටියෙන් පැහැදිලි කරන්න.

***3 වන ප්‍රශ්නයෙන් අපේක්ෂිත ඉගෙනුම් ඵල***

- *සමාජයක ඇති වන ගැටුම් වර්ග පැහැදිලි කරයි*
- *ගැටුම් වළක්වා ගැනීමට මනස ශක්තිමත් කළ හැකි ආකාර විශ්ලේෂණය කරයි.*
- *ගැටුම් නිරාකරණය සඳහා අනුගමනය කළ හැකි ක්‍රම ඇගයීමට ලක් කරයි*
- *ගැටුමක් විසඳා ගන්නා ආකාරය විග්‍රහ කරයි*

(i)

- වාර්ගික ගැටුම්
- ආගමික ගැටුම්
- කුල ගැටුම්
- ගෝත්‍ර අතර ගැටුම්
- සමවයස් කණ්ඩායම් අතර ගැටුම්
- අදහස්වල පරස්පරතා නිසා ඇතිවන ගැටුම්
- මතභේද නිසා ඇතිවන ගැටුම්

***(~~පුද්ගලයා තුළ~~, පවුල් තුළ, පුද්ගලයන් අතර හා පවුල් අතර ඇතිවන විවිධ ගැටුම් මෙ යටතේ පිළිතුරු ලෙස පිළිගත හැකිය. )***

(ii)

- ආගමික වතාවත් කෙරෙහි යොමු වීම
- මනෝ විද්‍යාත්මක අභ්‍යාස
- උපදේශනය මගින්
- ස්වාභාවික පරිසරය නිරීක්ෂණය
- සුරතල් සතුන් ඇති කිරීම
- යහලුවන් සමග කථාබහ කිරීම

***(මෙවැනි ඕනෑම කරුණු තුනක් ලියා ඇත්නම් එක් කරුණක් සඳහා එක් ලකුණක් බැගින් දෙන්න.)***

(iii)

(a)

- සාකච්ජා කිරීම
- සහමන්ත්‍රණය හා කේවල් කිරීම
- මැදිහත්කරණය
- සමථකරණය
- බේරුම් කිරීම
- විනිසීම
- ඒකඟත්වය
- උපදේශනය

***(මෙවැනි ඕනෑම කරුණු දෙකක් ලියා ඇත්නම් ලකුණු දෙකක් බැගින් දෙන්න.)***

(b)

***(ඉහත සඳහන් කරන ලද ක්‍රම අතුරින් එක් කරුණක් පැහැදිලි කර තිබේ නම් ලකුණු තුන ම ලබා දෙන්න.)***

4. විවිධ ජනවර්ගවලට අයත්, විවිධ ආගමික විශ්වාස දරන සහ විවිධ භාෂා කතා කරන පුද්ගලයින් එකට ජීවත්වීම බහුසංස්කෘතියයි.
(i) ශ්‍රී ලංකාව බහුසංස්කෘතික සමාජයක් වීමට බලපෑ සාධක දෙකක් සඳහන් කරන්න.
(ii) යහපාලනයක දැකිය හැකි මූලික ගුණාංග තුනක් ලියන්න.
(iii) (a) බහුසංස්කෘතික සමාජයක ඇති විය හැකි ගැටුම් වර්ග දෙකක් සඳහන් කරන්න.
(b) බහුසංස්කෘතික සමාජයක ඇති විය හැකි ගැටුම් වළක්වාලීමට ඔබට ගත හැකි ක්‍රියාමාර්ගයක් කෙටියෙන් විස්තර කරන්න.

**4 වන ප්‍රශ්නයෙන් අපේක්ෂිත ඉගෙනුම් ඵල**

- බහු සංස්කෘතික සමාජ බිහිවීමට බලපාන සාධක විග්‍රහ කරයි.
- යහපාලනයක් යන්න අර්ථ කථනය කරයි.
- යහපාලනයක දැකිය හැකි ලක්ෂණ විමර්ශනය කරයි.
- බහුසංස්කෘතික සමාජයක ඇති විය හැකි ගැටුම් පිළිබඳව සාකච්ඡා කරයි.
- බහුසංස්කෘතික සමාජයක ඇති විය හැකි ගැටුම් වළක්වා ගත හැකි ක්‍රම විග්‍රහ කරයි.

(i)
- පිහිටීම
- සංක්‍රමණ
- ආක්‍රමණ
- විවිධ ජාතීන් වෙළදාම සඳහා පැමිණීම
- ශ්‍රමිකයන් ගෙන්වා ගැනීම
- ගෝලීයකරණය

*(මින් කරුණු දෙකකට ලකුණු 2ක් දෙන්න).*

(ii)
- දූෂණයෙන් හා වංචාවෙන් තොර රාජ්‍ය පාලනය හා පරිපාලනය
- නිදහස හා සාධාරණත්වය තහවුරු කිරීම
- නීතියේ ආධිපත්‍යයට ගරු කිරීම
- අධිකරණයේ ස්වාධීන්තවය ආරක්ෂා කිරීම
- රාජ්‍ය පාලන බලතල ක්‍රියාවට නංවන පුද්ගලයින් ජනතාවට වගකීමට බැඳී සිටීම
- අයිතිවාසිකම් සුරැකීම සහ තහවුරු කිරීම
- මාධ්‍ය නිදහස ආරක්ෂා කිරීම
- සම්පත් කාර්යක්ෂම ව හා ප්‍රතිඵලදායී අයුරින් භාවිතයට ගැනීම
- විනිවිදභාවයෙන් යුතුව කටයුතු කිරීම
- ගුණාත්මක දේශපාලන සමාජානුයෝජනයට අවශ්‍ය පසුබිම සකස් කිරීම
- ව්‍යවස්ථානුකූලවාදය ආරක්ෂා කිරීම හා රැක ගැනීම

*(මින් කරුණු තුනක් සඳහා ලකුණු 3ක් දෙන්න.)*

(iii)
(a)
- ආගම් අතර ගැටුම්
- ජන වර්ග අතර ගැටුම්
- දේශපාලනික ගැටුම්
- සංස්කෘතික ගැටුම්

*(මෙවැනි කරුණු දෙකක් දක්වා ඇත්නම් ලකුණු 2ක් දෙන්න.)*

(b)
ඉහත දක්වා ඇති ගැටුම් වර්ග අතුරින් එකක් වළක්වා ගැනීමට පුරවැසියකු වශයෙන් ගත හැකි ක්‍රියාමාර්ගයක් නිදසුන් සහිතව පැහැදිලි කර තිබේ නම් ලකුණු තුනක් ලබා දෙන්න.
**ක්‍රියාමාර්ග පමණක් නම කර ඇත්නම් එක් ලකුණක් ලබා දෙන්න.**

5. ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය යහපත් පාලන ක්‍රමයක් ලෙස මුළු ලෝකය ම පිළිගෙන ඇත.

(i) ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක දක්නට ලැබෙන ප්‍රධාන ස්වරූප **දෙක** කුමක් ද?

(ii) ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් පවතින රටක ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූලව කටයුතු කිරීමෙන් ලැබෙන වාසි **තුනක්** ලියන්න.

(iii) (*a*) ප්‍රජාතන්ත්‍රවාදී ජීවන ක්‍රමයක දක්නට ලැබෙන ලක්ෂණ **දෙකක්** දක්වන්න.

(*b*) ඉන් එක ලක්ෂණයක් අනුගමනය කිරීමෙන් සමාජයට සිදුවන ප්‍රයෝජනයක් කෙටියෙන් පැහැදිලි කරන්න.

***5 වන ප්‍රශ්නයෙන් අපේක්ෂිත ඉගෙනුම් ඵල***

- *ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක දක්නට ලැබෙන විවිධ ස්වරූප විමසයි.*
- *ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුකූලව කටයුතු කිරීමේ වැදගත්කම විශ්ලේෂණය කරයි.*
- *ප්‍රජාතන්ත්‍රවාදී ජීවන ක්‍රමයක දක්නට ලැබෙන ලක්ෂණ අර්ථකතනය කරයි.*
- *ප්‍රජාතන්ත්‍රවාදී ජීවන ක්‍රමයකින් සමාජයට ඇතිවන වාසි පෙන්වා දෙයි.*

(i)

- සෘජු ප්‍රජාතන්ත්‍රවාදය
- වක්‍ර ප්‍රජාතන්ත්‍රවාදය/ නියෝජන ප්‍රජාතන්ත්‍රවාදය/ නියෝජ්‍ය ප්‍රජාතන්ත්‍රවාදය/ පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදය

**(මෙම කරුණු දෙක සඳහා ලකුණු දෙකක් ලබා දෙන්න)**

(ii)

- පාලනයේ ක්‍රමවත් බව හා ස්ථාවර බව ආරක්ෂා වීම
- පුරවැසි අයිතිවාසිකම් පිළිබඳ පාලක - පාලිත දෙපක්ෂය ම දැනුවත් වීම
- පාලකයන් අත්තනෝමතික ව ක්‍රියා කිරීම වළක්වා ගත හැකි වීම
- අධිකරණයේ ස්වාධීනත්වය ආරක්ෂා වීම
- මූලික අයිතිවාසිකම් සුරක්ෂිත වීම
- ආණ්ඩු ක්‍රමයට සම්බන්ධ ආයතනවලින් සේවා ඉටුකර ගත හැකි වීම
- නීතියේ ඒකවරණය සැමට ලැබීම

**(මින් ඕනෑම කරුණු තුනක් ලියා ඇත්නම් මුළු ලකුණු ලබා දෙන්න. ශිෂ්‍යයන්ගේ නිර්මාණාත්මක පිළිතුරු කෙරෙහි ද අවධානය යොමු කරන්න.)**

(iii)

(a)

- අන්‍ය මත ගරු කිරීම
- සාකච්ඡා මගින් තීරණවලට එළඹීම
- සමානාත්මතාව ගරු කිරීම
- අයිතිවාසිකම් භුක්ති විඳිමින් යුතුකම් අගයන ජීවන ක්‍රමයකට හුරු වීම
- සාමූහිකව කටයුතු කිරීම

**(මෙවැනි ඕනෑම කරුණු දෙකක් දක්වා ඇත්නම් ලකුණු දෙකක් දෙන්න).**

(b)

ඉන් එක් ලක්ෂණයක් අනුගමනය කිරීමෙන් සමාජයට සිදු වන ප්‍රයෝජනයක් නිදසුන් සහිතව විස්තර කර ඇත්නම් සම්පූර්ණ ලකුණු ලබා දෙන්න.

**එහිදී පිළිතුරේ ඇති ප්‍රායෝගික බව හා නිර්මාණශීලී බව කෙරෙහි අවධානය යොමු කර ලකුණු පැවරීම කරන්න.**

6. නීතිය නොදැන සිටීම නිදහසට කරුණක් නොවන හෙයින් සෑම පුරවැසියකු ම නීතිය පිළිබඳ අවබෝධය ලබාගත යුතු ය.

   (i) දේශීය නීතියේ ප්‍රභේද **දෙකක්** සඳහන් කරන්න.

   (ii) නීතියේ ගුණාංග **තුනක්** ලියන්න.

   (iii) (*a*) අප්‍රමාදව හා අපක්ෂපාතීව යුක්තිය පසිඳලීම සිදු නොවීම නිසා ඇති විය හැකි අවාසිදායක තත්ත්වයන් **දෙකක්** සඳහන් කරන්න.

   (*b*) ඉන් එක් අවාසියක් අවම කරගැනීමට පුරවැසියන්ට ගත හැකි ක්‍රියාමාර්ග පැහැදිලි කරන්න.

**6 වන ප්‍රශ්නයෙන් අපේක්ෂිත ඉගෙනුම් ඵල**

- නීතිය හා සම්බන්ධ විවිධ ප්‍රභේද විමර්ශනය කරයි.
- රටක නීතියක පැවතිය යුතු ගුණාංග පිළිබඳව විග්‍රහ කරයි.
- අප්‍රමාදීව හා අපක්ෂපාතීව යුක්තිය පසිඳලීමේ අවශ්‍යතාව සාකච්ඡා කරයි.
- යුක්තිය පසිඳලීමේ දී ඇතිවන අවාසි මග හරවා ගැනීමට ගත හැකි ක්‍රියාමාර්ග විශ්ලේෂණය කරයි.

(i)

- ආණ්ඩුක්‍රම ව්‍යවස්ථා නීතිය
- සිවිල් නීතිය
- අපරාධ නීතිය

**( මෙම කරුණු අතුරින් දෙකක් ලියා ඇත්නම් ලකුණු දෙකක් දෙන්න ).**

(ii)

- අධිකාරී බලය පදනම් කරගෙන රාජ්‍ය විසින් පැනවීම
- මිනිස් ක්‍රියාකාරකම් හා චර්යාවන් පාලනය කිරීමේ අරමුණින් පැනවීම
- යුක්තිසහගත සහ සාධාරණ විය යුතු වීම
- පොදු සමාජ යහපත අරමුණු කොටගෙන පැනවිය යුතු වීම
- වෙනස් වන සමාජ අවශ්‍යතා අනුව වෙනස්වීම
- නිරවුල්ව හා පැහැදිලිව දක්විය යුතු වීම
- නීති කඩ කිරීම දඬුවම් ලැබිය හැකි වරදක් වීම

**(මෙවැනි කරුණු තුනක් සඳහා ලකුණු තුනක් දෙන්න).**

(iii)

(a)

- පුද්ගලයන් තුළ අධිකරණ පද්ධතිය හා නීතිය පිළිබඳව විශ්වාසය නොමැති වීම
- නීතිය වෙනුවට අවනීතිය ඉදිරියට ඒම
- රට තුළ සිදුවන අපරාධ හා දූෂණ වර්ධනය වීම
- රට තුළ නීතියේ සමානතාව හා සාධාරණ බව පිරිහීම
- යුක්තිය ඉටු කර ගැනීම සඳහා අනියම් ක්‍රම භාවිතයට පෙළඹීම
- යුක්තිය ඉටුකර ගැනීමට විශාල කාලයක්, මුදලක් හා ශ්‍රමයක් වැය කිරීමට සිදුවීම
- මිනිසුන් තුළ අධිකරණයට හා නීතියට ඇති ගෞරවය හීන වීම

**(මෙවැනි කරුණු දෙකක් ලියා ඇත්නම් ලකුණු දෙකක් දෙන්න).**

(b)

ඉහත සඳහන් කරන ලද කරුණුවලින් එකක් තෝරා ගෙන එම අහිතකර තත්ත්වය අවම කිරීමට ගත හැකි ක්‍රියාමාර්ගය යෝජනා කර, විස්තර කර තිබීම අවශ්‍ය ය.

**(යෝජනා කර ඇත්නම් පමණක් ලකුණු එකක් දෙන්න.
එය විස්තර කර තිබේ නම් සම්පූර්ණ ලකුණු දෙන්න)**

7. ලෝකයේ විවිධ අර්ථක්‍රම මගින් ආර්ථික කටයුතු මෙහෙයවන ආකාරය වර්තමානයේ දැකිය හැකි ය.
   (i) සමාජවාදී අර්ථ ක්‍රමයක මූලික ලක්ෂණ **දෙකක්** සඳහන් කරන්න.
   (ii) නිෂ්පාදන සාධක **තුනක්** ලියන්න.
   (iii) (*a*) තිරසර සංවර්ධනයේ දී පුරවැසියන් විසින් සැලකිය යුතු කරුණු **දෙකක්** ලියන්න.
   (*b*) ඉන් එක් කරුණක් අනුගමනය කළ හැකි ආකාරය කෙටියෙන් විස්තර කරන්න.

**7 වන ප්‍රශ්නයෙන් අපේක්ෂිත ඉගෙනුම් ඵල**

- *ලෝකයේ පවතින විවිධ අර්ථ ක්‍රමයන්හි ලක්ෂණ පිළිබඳව විමසා බලයි.*
- *ආර්ථික ක්‍රියාවලියේදී භාවිතයට ගන්නා නිෂ්පාදන සාධක පිළිබඳව සාකච්ඡා කරයි.*
- *පුරවැසියන් විසින් තිරසර සංවර්ධනය සඳහා සැලකිය යුතු කාර්යයන් විග්‍රහ කරයි.*
- *තිරසර සංවර්ධනය සඳහා අනුගමනය කළ හැකි කාර්යයන් විශ්ලේෂණය කරයි.*

(i)

- දේපළ අයිතිය රජය සතු වීම
- මධ්‍ය සැලසුම් මණ්ඩලයක් මගින් ආර්ථිකය මෙහෙයවීම
- මූලික ආර්ථික ප්‍රශ්න විසඳීමේ දී පොදු යහපත උදෙසා කටයුතු කිරීම
- ලාභාපේක්ෂාවෙන් තොරව කටයුතු කිරීම

***(ඉහත කරුණු අතුරින් දෙකක් සඳහන් කිරීමට ලකුණු දෙකක් දෙන්න).***

*(ii)*

- භූමිය
- ශ්‍රමය
- ප්‍රාග්ධනය
- ව්‍යවසාය

***(ඉහත සඳහන් සාධක අතුරින් තුනක් ලියා ඇත්නම් ලකුණු තුනක් දෙන්න)***

(iii)
(a)

- මූලික අවශ්‍යතා තෘප්තිමත් කර ගැනීම
- අනාගත පරම්පරාව සමග ඒකමතික වීම
- ජනතා සහභාගිත්වය ඇති කර ගැනීම
- ස්වාභාවික සම්පත් සංරක්ෂණය
- පරිසරය ආරක්ෂා කර ගැනීම
- සමාජ සුරක්ෂිතභාවය
- අධි පරිභෝජනයෙන් වැළකීම
- අන්‍ය සංස්කෘතීන්ට ගරු කිරීම
- පරිසර හිතකාමී ආකල්ප සංවර්ධනය කර ගැනීම

***(මෙවැනි ගැලපෙන කරුණු දෙකක් ලියා තිබේ නම් ලකුණු දෙකක් දෙන්න).***

(b)

***ඉන් එක් කරුණක් අනුගමනය කළ හැකි ආකාරය පැහැදිලි කර තිබේ නම් ලකුණු තුන ම ලබා දෙන්න.***